# නාමරූප ප්‍රත්‍යයෙන් සළායතන හටගන්නා හැටි සැඟව ගිය දහම් ඇසින්

පසුගිය කලාපයෙන් අපි සාකච්ඡා කළා විඤ්ඤාණ පච්චයා නාමරූපං කියන කාරණය පිළිබඳව. නාම රූප කියන්නෙ මොනවද කියලත් සාකච්ඡා කළා. නාමරූප විඤ්ඤාණ ප්‍රත්‍යයෙන් ඇතිවන හැටි සාකච්ඡා කළා. රූප (රූ + ඔප් =රූප - රවුම් ගැසීම හෙවත් භ්‍රමණ චක්‍රය ඔප් නැංවීම) කියන්නේ ආපෝ, තේජෝ, වායෝ, පඨවි සහ ඒවා ආශ්‍රිතව හැදෙන රූප වශයෙන් විග්‍රහ කළා. නාම කියන්නේ ස්පර්ශ, වේදනා, සංඥා, චේතනා හෙවත් සංඛාර, මනසිකාර වශයෙන් අපි සාකච්ඡා කළා. මේ ලිපියෙන් බලාපොරොත්තු වෙන්නේ මේ නාම රූපවලින්, නාම රූප ප්‍රත්‍ය කරගනිමින්, ෂඩ් ආයතන හෙවත් සළායතන ඇතිවෙන්නෙ කොහොමද කියන එක සාකච්ඡා කරන්න.

එහෙනම් ඉන්ද්‍රිය ආයතන බවට පත්වන ක්‍රමය අපි විග්‍රහ කරගනිමු. විඤ්ඤාණ ප්‍රත්‍යයෙන් නාමරූප හටගන්නා ආකාරය පිළිබඳව බොහෝ අය උත්සාහ කරන්නේ, මේ අනිච්ච වූ සංඛත වූ විඤ්ඤාණය ඊළඟ අත්බැව කරා ගෙනිහින් එතැනදී මව් කුසක් තුළ නාම රූප ඇතිවන හැටි විස්තර කරන්නයි. ගුවන් විදුලියේ, රූපවාහිනියේ අපි අහන බොහෝ බණ දහම්වල විඤ්ඤාණ ප්‍රත්‍යයෙන් නාමරූප ඇතිවන හැටි විස්තර කරන්න උත්සාහ කරන්නේ, විඤ්ඤාණය මේ මරණින් පසු ඉවත්ව ගිහින් වෙනත් කළලයකට ඇතුල් වෙලා ඒ කළලය තුළ නාම රූප හැදෙන හැටි පෙන්වන්නයි. ඇත්තටම මේක කණගාටු දායක සිද්ධියක්. මේ පටිච්ච සමුප්පාදය හරියට තේරුම් ගන්න නොහැකි වීම නිසා ඇති වෙච්ච ප්‍රශ්නයක්.

"ඉදප් පච්චයතා පටිච්ච සමුප්පාදය" (ඒ ඒ මොහොතේම ඒකට ප්‍රත්‍ය වන දෙය සෙවීම) කියල <u>ආයාචනා සූත්‍රයෙන්</u> (සං:නි: (1) 248 පිටුව) බුදුපියාණන් වහන්සේ බුදුවෙලා පළමුවෙන්ම ධර්ම ගාම්භීරත්වය මෙනෙහි කරපු අවස්ථාවේ දේශනා කළා. මේ ලෝක සත්ත්වයාට මා විසින් අවබෝධ කරගත්තා වූ මේ ගැඹුරු වූ ඉදප් පච්චයතා පටිච්ච සමුප්පාදය කෙසේනම් තේරුම් ගන්න පුළුවන් වෙයිද? බුදුපියාණන් වහන්සේට මේ වගේ චිත්ත පරිවිතර්කයක් (සිතිවිලි මාලාවක්) ඇතිවුණා. ඉදප් පච්චයතා පටිච්ච සමුප්පාදය ගැඹුරු බව උන්වහන්සේම තේරුම්











ගත්තා. මේ මේ අවස්ථාවෙදීම ජාති හැදෙමින්, ඒ ඒ ජාතිවලට අනුරූප වූ දුක් කොටස් අපි විඳින බව විස්තර කරන අවස්ථාවක් තමයි මේකෙන් විග්‍රහ වෙන්නේ. අපි අවිද්‍යාව මගින් එවෙලෙට එවෙලෙට ඒ ඒ මොහොතේ සංඛාර ගොඩනගමින්, ඒ ඒ මොහොතේ විඤ්ඤාණ නිර්මාණය කරමින්, පටිච්ච සමුප්පාදයේ ඉතිරි කොටස් ටික සම්පූර්ණ කරමින්, ඒ ඒ මොහොතේ රාග ජාතිකයෙක්, ද්වේශ ජාතිකයෙක් බිහි කරමින්, ඒ අදාල වූ රාග ජාතිකයාට හෝ ද්වේශ ජාතිකයාට උරුම වූ දුක් ටික ඒ ඒ මොහොතේ විඳින බව අපේ බොහෝ දෙනා දන්නෙ නෑ. මෙන්න මේ ක්‍රියාවලියයි ඉදප් පච්චයතා පටිච්ච සමුප්පාදය ලෙස විස්තර කරන්නේ.

මරණින් පසු ඊළඟ අත්බවයේ විඤ්ඤාණය තවත් මව් කුසකට ගිහින් නාම රූප හදනව කියන ඒ සම්බන්ධතාවය වෙනම සිද්ධියක්. යම් අවස්ථාවක අපි රූපයක් දැක්කයි කියල හිතමු. ඒ දැකපු රූපයට පටිච්ච වීමෙන් විඤ්ඤාණයක් ගොඩ නගමින් පටිච්ච සමුප්පාදයේ ඉතුරු පියවරවල් ටික සම්පූර්ණ කරමින් ඒ මොහොතේම ජාතියක් බවට පත්වෙන බව හුඟක් අයට තේරුම් ගන්න අපහසු වෙලා තියෙනවා. නමුත් අමාරුවෙන් හෝ මේක තේරුම් ගත යුතුයි. ඒ ඒ මොහොතේ ජාති බවට පත්වෙමින් දුක් විඳින බව තේරුම් නොගත්තු අයට ඒ මොහොතේ නිවන් දකින්න ලැබෙන්නෙ නෑ. නිවන කියන එක ඒ මොහොතේ (මේ මොහොතේම) අපි ලැබිය යුතු දෙයක්. ඒක මරණින් පස්සෙ ලබන දෙයක් නෙමෙයි.

එහෙනම් ජාති නිරෝධය මේ මොහොතේම සිදුවිය යුතු දෙයක්. දැන් අපි නැවත මාතෘකාවට බැස්සොත් විඤ්ඤාණ ප්‍රත්‍යයෙන් නාම රූප හැදෙන හැටි අපි විස්තර කළා. මේ නාම රූපවලින්, නාම රූප ප්‍රත්‍යයෙන් සළායතන හැදෙන හැටි දැනගනිමු. සළායතන කිව්වෙ ආයතන හයක් කියන එකයි. චක්ඛායතනය, සෝතායතනය, ඝානායතනය, ජිව්හායතනය, කායායතනය, මනායතනය මේ හයයි. එහෙනම් අපි නුවණින් කල්පනා කරල තේරුම් ගත යුතු තත්ත්වයක් තමයි, මේ ආයතන කියන්නෙත් අපේ ඉන්ද්‍රිය කියන්නෙත් එකමද කියල.

පටිච්ච සමුප්පාද චක්‍ර විවිධාකාරයි. විඤ්ඤාණ සහ නාම රූප විග්‍රහ කරනකොට චුතිය, පටිසන්ධිය ආදී චිත්තක්ෂණයක් ඇසුරු කර විග්‍රහ කරන සූක්ෂම පටිච්ච සමුප්පාදයක් තියෙනවා. ඒ

පටිච්ච සමුප්පාදය එක එක චිත්තක්ෂණයක් තුළමයි සිද්ධ වෙන්නේ. එනම් හතර ආකාර වූ පටිච්ච සමුප්පාද, අවස්ථා හතරකදී හතර වතාවක් එක චිත්තක්ෂණයක සිද්ධ වෙනවා. මේ කාරණය බුදුපියාණන් වහන්සේගේ අනාවරණඥානයට මිසක් අන් අයට ගෝචර වෙන්නෙ නෑ. සහජාත, සම්පයුත්ත, අඤ්ඤමඤ්ඤ, හේතු ආදී ප්‍රත්‍ය සමූහයකින් යුතුවයි ඒ චක්‍ර ක්‍රියාත්මක වෙන්නේ.

අපට දැනගන්න පුළුවන් වන්නේ ස්කන්ධ වශයෙන් උපනිශ්‍රය ප්‍රත්‍යයෙන් ප්‍රත්‍ය වන පටිච්ච සමුප්පාදයයි. කුඩා චිත්තක්ෂණ කෝටි ප්‍රකෝටි ගණනක මතක සම්පිණ්ඩනය වෙලා සැකසෙන, උපනිශ්‍රය ප්‍රත්‍යයෙන් ප්‍රත්‍ය වෙලා ගොඩනැගෙන අවිද්‍යා ස්කන්ධ, සංඛාර ස්කන්ධ, විඤ්ඤාණ ස්කන්ධ, නාම රූප ස්කන්ධ, සලායතන ස්කන්ධ ආදී ලෙස ස්කන්ධ හෙවත් ගොඩවල් එකක් ලෙස සම්මත කරගත් සම්මතයන්ගෙන් ගොඩනැගුන පටිච්ච සමුප්පාදයක් තමයි අපට ගෝචර වෙන්නේ.

අතීත ස්කන්ධයෝ ගෙවිල කෙළවර වුනත්, ඒ ස්කන්ධ අතීත මනසිකාරයෙන් අරගෙන පොදිකර සම්මත නම් තබාගෙන අතීත හේතු ලෙස අවිද්‍යා, සංඛාර, තණ්හා, උපාදාන, භව යන පහක් උපනිශ්‍රයෙන් වර්තමාන වූ විඤ්ඤාණ, නාම රූප, සලායතන, ස්පර්ශ, වේදනා යන ඵල පහක්ද, ඒවා උපනිශ්‍රය කරගෙන ගොඩනගන අවිද්‍යා, සංඛාර, තණ්හා, උපාදාන, කර්ම භව යන ස්කන්ධයන් පහක උපනිශ්‍රය ලබා, වර්තමාන හේතු පහක් ගොඩනැගී ඒවා උපනිශ්‍රය කරගෙන, අනාගත ඵල ස්කන්ධ වශයෙන් මතු අත්බැවකට විඤ්ඤාණ, නාම රූප, සලායතන, ස්පර්ශ, වේදනා යන ස්කන්ධ පහක් ගොඩනැගෙන ක්‍රමයයි ශ්‍රාවක නුවණට ගෝචර වෙන්නේ. මේ පටිච්ච සමුප්පාදයේ අතීත හේතු පහ ගෙවිල අවසන් වෙලා ඒවා උපනිශ්‍රය ප්‍රත්‍යයෙන් ප්‍රත්‍ය ලබාගෙනයි වර්තමාන ඵල ස්කන්ධ පහ පහළ වන්නේ.

ඒ නිසා මේ ස්කන්ධයන්ගේ උපනිශ්‍රය පටිච්ච සමුප්පාදය, චිත්තක්ෂණයක සම්පයුත්ත පටිච්ච සමුප්පාදයට ගලපන්න බෑ. මේවා ගැන වැඩි විස්තර පසුව විග්‍රහ කරල දැනගන්න පුළුවන්. මේ අනුව ඉදිරියට ඉන්ද්‍රිය සහ ආයතනවල වෙනස සොයාගත යුතුයි.

රහතන් වහන්සේ නමක් ආයතන නිරෝධ කරනවා (නිර් + උදා =උදා වෙන්නෙ නෑ). අවිද්‍යා නිරෝධයෙන් සංඛාර නිරෝධයි. සංඛාර නිරෝධයෙන් විඤ්ඤාණ නිරෝධයි. විඤ්ඤාණ නිරෝධයෙන් නාම රූප නිරෝධයි. නාමරූප නිරෝධයෙන් සලායතන නිරෝධයි. එහෙනම් රහතන් වහන්සේ අවිද්‍යාව නිරෝධ කළාම උන්වහන්සේට සලායතන නෑ. **සලායතන කියන්නේ ඉන්ද්‍රියයි කියල හිතුවොත් රහතන් වහන්සේට ඉන්ද්‍රිය නැද්ද? ඇස, කන, නාසය, දිව, ශරීරය, මනස නැද්ද? මේ සියල්ලම රහතන් වහන්සේටත් තියෙනවා. එහෙනම් සලායතන නිරෝධයි කියල කිව්වම රහතන් වහන්සේගේ මොනවද නිරෝධ වුනේ?** අන්න දැන් අපිට පේනව ඉන්ද්‍රිය කියන්නෙ එකක්, ආයතන කියන්නෙ තව එකක් කියල.

මේ සිද්ධිය අපි උදාහරණයක් අරගෙන තේරුම් ගන්න බලමු. යම් කිසි ස්ථානයකට අපි ආයතනය කියල නම යෙදුවොත් ඒක කොයි ආකාරයටද යෙදෙන්නෙ කියල බලමු. අපි හිතමු අපට ගොඩනැගිල්ලක් තියෙනව කියල. මේ ගොඩනැගිල්ල බැංකුවක් සඳහා පාවිච්චි කළොත් මේකට අපි බැංකු ආයතනය කියල නම යොදනවා. ඒ ගොඩනැගිල්ලෙන් බැංකුව අයින් කරල අධ්‍යාපන වැඩසටහන් සඳහා පාවිච්චි කළොත් අපි මේකට අධ්‍යාපන ආයතනය කියල කියනවා. අධ්‍යාපන වැඩසටහන් අයින් කරල වෛද්‍ය ක්‍රියාකාරකම්වලට මේ ගොඩනැගිල්ල පාවිච්චි කළොත් අපි දැන් ඒකට වෛද්‍ය ආයතනය කියල කියනවා. හැබැයි ගොඩනැගිල්ල එකමයි. මොනවටද මුලින්ම පාවිච්චි කළේ, බැංකු වැඩකටයුතුවලට. එතකොට ඒක බැංකු ආයතනයක්. අධ්‍යාපන කටයුතුවලට පාවිච්චි කළොත් අධ්‍යාපන ආයතනය කියල කියනවා. වෛද්‍ය කටයුතු සඳහා පාවිච්චි කළ වෙලාවට අපි ඒකට වෛද්‍ය ආයතනය කියල කියනවා. එහෙනම් ආයතනය කියන නම යෙදුනේ, මේ ගොඩනැගිල්ල පාවිච්චි කරපු කාර්ය අනුව, ඒ කාර්ය විග්‍රහ කරන්නයි. මෙන්න මේ ආකාරයෙන් අපේ ඉන්ද්‍රියන් ආයතන වන හැටි බලමු.

ඇසෙන් රූප දැකල, මේ රූප රාගිකව, ද්වේශිකව හෝ මෝහයෙන් යුතුව ගැනීමට ඇහැ පාවිච්චි කළොත් අන්න එතකොට ඇස රාගායතනයක් වෙනවා, ද්වේශ ආයතනයක් වෙනවා. එහෙනම් ඇස රාග ආයතනයක් වුනේ රාගිකව ඇස පාවිච්චි කළ නිසයි. ද්වේශ ආයතනයක් වුනේ ද්වේශයෙන් යුතුව ඇස පාවිච්චි කළ නිසයි. දැන් අපිට පේනව ඇස ද්වේශයෙන් යුතුව පාවිච්චි නොකළොත්, රාගයෙන් පාවිච්චි නොකළොත්, රූපයක් දැක්කට රාගයක් හෝ ද්වේශයක් පැන නොනැගුනොත්, එතැන ඇස ඇස විතරයි කියල. ඇස රාග හෝ ද්වේශ ආයතනයක් බවට පත් වුනේ නෑ. රාගක්ෂය, ද්වේශක්ෂය, මෝහක්ෂය කළ රහතන් වහන්සේ රාගයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් ඇස පාවිච්චි කරන්නෙ නෑ. ඒ නිසයි අපි කිව්වෙ උන්වහන්සේ මේ ඇස මුල්කරගෙන ගොඩනැගුන චක්ඛායතනය නිරෝධ කළා කියල. චක්ඛු ආයතනය නිරෝධ කළාම උන්වහන්සේට ඉතුරු වෙන්නෙ චක්ඛු ඉන්ද්‍රිය පමණයි. එහෙනම් අරිහත්වයට පත් නොවූ අයට චක්ඛු ඉන්ද්‍රියද, චක්ඛායතනයද තියෙන්නේ? මේ දෙකේ සම්මිශ්‍රණයක් තමයි ඔවුන් තුළ තියෙන්නේ.

අපි උදාහරණයක් අරගෙන බලමු. දැන් අපි දුම්රියෙන් ගමනක් යනවා කියල හිතන්න. මේ ගමන යද්දී දුම්රිය කවුළුවෙන් එළිය බලනකොට අපට ගෙවල් දිගටම පෙනේවි. මේ පෙනෙන හැම ගෙයකටම අපි රාගයෙන් පටිච්ච (කැමැත්තෙන් බැඳීම) වෙනවද? අන්න පළවෙනි ගේ දැක්කා, දෙවෙනි ගේ දැක්කා, තුන්වෙනි ගේත් දැක්කා... මෙන්න මෙහෙම ගෙවල් පෙලක් දකිනකොට අපි ඒ සියළුම ගෙවල් හඳුනා ගන්නවා. ගෙයක් බව හඳුනා ගන්නවා. මෙහෙම යනකොට හතරවෙනි ගෙදර විශේෂිත ලක්ෂණයක් තිබුණොත් පමණක් ඒ ගේ සමග රාගිකව පටිච්ච වෙනවා, රාගිකව බැඳෙනවා. අන්න ඒ අවස්ථාවෙදි පමණයි ඇස රාගිකව පාවිච්චි කළේ. මෙන්න මේ ඇස රාගිකව පාවිච්චි කරපු මොහොත. ලස්සන ගෙයක් දැකල මේ ගේ නම් හරිම ලස්සනයි, මේ වගේ ගෙයක් මටත් ඇත්නම්... ආදී වශයෙන් රාගිකව බැඳීමක් ඇති වුනොත්, ඒ ගෙයි ස්වරූපය පිළිබඳව ඇසින් අපි රාගිකව දැක්කා. ඒ වෙලාවෙ අපි ඇස රාගිකව පාවිච්චි කළා. එහෙනම් ඒ ගේ දැක්කේ රාගයට උපනිශ්‍රය කරගත් ඇසකින්. අන්න ඒ වෙලාවේ අපේ චක්ඛු ඉන්ද්‍රිය චක්ඛායතනයක් බවට පත් වුනා. ඊට පෙර ගෙවල් තුනක් දැක්කා. ඒ එක ගෙයක් සමගවත් අපි රාගිකව බැඳුනෙ නෑ. රාගයෙන් ඇස පාවිච්චි කළේ නෑ. එහෙනම් ඒ අවස්ථාවලදී අපි ඉන්ද්‍රියක් වශයෙන් ඇහැ පාවිච්චි කළා පමණයි.

එහෙනම් රහතන් වහන්සේ මේ ලස්සන ගෙයක් දැකපු වෙලාවෙවත්, ඇහැ ආයතනයක් බවට පත් නොකර ඉන්නවා. උන්වහන්සේ ඉතාමත් රමණීය ගෙයක් දැක්කත් ඒ ගේ සමග පටිච්ච වෙන්නෙ නෑ.

රාගයෙන් බැඳෙන්නෙ නෑ. එහෙනම් උන්වහන්සේ තුළ චක්ඛායතනය ඒ මොහොතේ උදා වෙන්නෙ නෑ. නිර් උදාවෙනවා, එහෙනම් නිරෝධ වෙනවා. චක්ඛායතන නිරෝධයි කිව්වෙ ඒකටයි. චක්ඛු තියෙනවා, චක්ඛායතනය නිරෝධයි, චක්ඛායතනය උදා වෙන්නෙ නෑ.

අරිහත්වයට පත් නොවූ අය තුළ තමයි මන වඩන යමක් දැක්කොත් ඇස චක්ඛායතනයක් බවට පත් කර ගන්නෙ, රාගයෙන් ඒ දැකපු දේත් එක්ක බැඳෙන්නේ. රාගිකව හෝ ද්වේශිකව හෝ ඇහැ පාවිච්චි කළා නම්, අන්න ඒ වෙලාවේ ඇහැ චක්ඛායතනයක් බවට පත් වෙනවා. එහෙනම් චක්ඛායතනයක් උදා වුණා. චක්ඛායතනය නිරෝධ කරනවා කියන්නේ රාග, ද්වේශ, මෝහ නිරෝධ කිරීම තුළින් ඇස ආයතනයක් බවට පත්නොවීමයි, උදා නොවීමයි. ඒකයි නිරෝධ කරනවා කියන්නෙ. මෙන්න මේ විදිහට ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ සහ ධර්ම එක්කත් අපි රාගිකව බැඳුනොත් අනිත් ආයතන ගැනත් තේරුම් ගත යුත්තේ ඒ ආකාරයෙන්මයි.

ඇස කියන මේ ඉන්ද්‍රිය එක දිගට පවතින වස්තුවක්ද? මේක සෛලවලින් නිර්මාණය වෙලා තියෙන්නෙ. මේ සෛල හැදිල තියෙන්නෙ අණුවලින්. එහෙම නැත්නම් පරමාණුවලින්. අණු හැදිල තියෙන්නෙ පරමාණුවලින්. පරමාණු හැදිල තියෙන්නෙ ශුද්ධාෂ්ඨක ආශ්‍රිතව. එහෙනම් මේ සෛලයක් තවත් කෝටි ගණනක පුංචි කෑලිවලට කඩල තමයි අන්තිමට ශුද්ධාෂ්ඨක තත්ත්වයට පත් වෙන්නෙ. අපි කවුරුත් දන්නව මේ ඇසේ පටක එක දිගට පවතින ඒකාකාරී දෙයක් නොවන බව. **බුදුරජාණන් වහන්සේ දේශනා කරල තියෙනව, කෙනෙක් එක පුද්ගලයෙකුට අත තියල ඇල්ලුවොත්, නැවත දෙවනි සැරේ අල්ලනකොට අහුවෙන්නෙ ඉස්සෙල්ල අල්ලපු එක්කෙනා නෙමෙයි කියල.** මෙහෙම කියන්න හේතු වෙන්නේ මේ ශරීරයේ තියෙන සෑම පටකයක්ම, සෑම සෛලයක්ම එක එක අවස්ථාවලදී ගොඩනැගෙමින් බිඳෙමින් යන ක්‍රියාවලියක ප්‍රතිඵලයක් නිසයි. මේ සියළුම සෛල එක විට බිඳිල නැවත ඇතිවෙනවා නෙමෙයි. රූපය පෙන පිඬුවකට උපමා කළේ ඒ නිසයි.

සෛල තුළත් සෛල ගොඩනැගී ඇති අනිත් පුංචි පුංචි අංගු හෙවත් ඒ අණු හෝ පරමාණුත් බිඳෙමින් ගොඩනැගෙමින් නැවත නැවත මේ ව්‍යුහය පවත්වාගෙන යනවා. එහෙනම් දැන් තිබ්බ්ච පටක ටික නෙමෙයි ඊළඟ මොහොතෙ ඇහේ තියෙන්නෙ. එහෙනම් මේ පටක බිඳවැටෙමින් ගොඩනැගෙමින් යන ක්‍රියාවලියක් තමයි මේ චක්ඛු ඉන්ද්‍රිය කියන්නෙ.

මේ විදිහට ඒ ඒ මොහොතේ ඇති වෙච්ච නාම රූප, කායික සතර මහා භූතයන් සමග එක් වී අලුතින් පටක ගොඩනැගීමේදී ප්‍රත්‍ය වෙනවා. මේක එක ප්‍රත්‍යයක්. තවත් බොහෝ ප්‍රත්‍ය තියෙන්න පුළුවන්. එහෙනම් ඒ අවස්ථාවේ තමන්ගේ විඤ්ඤාණයෙන් නිපදවෙන ඒ අවස්ථාවේ නාම රූප තමයි මේ පටක ගොඩනැගීම සඳහා ආධාර වෙන්නේ. බිඳවැටෙමින් ගොඩනැගෙමින්, බිඳවැටෙමින් ගොඩනැගෙමින් යන පටක පද්ධතියේ මේ බිඳවැටීමත් ගොඩනැගීමත් යන ක්‍රියාවලියට ඒ ඒ මොහොතේ ඇතිවන විඤ්ඤාණවලින් හටගන්නා වූ නාම රූප අනුගත වෙනවා. එහෙනම් පටක නිර්මාණයේදී මේ නාමරූප අනුගත වෙනවා.

එහෙනම් සතුටින් සාමයෙන් හිටපු පුද්ගලයෙකුට එකවිටම මහා තරහක් එන වැඩක් සිද්ධ වුනොත්, ඒ මොහොතේ ද්වේශ විඤ්ඤාණයෙන් ගොඩනගන ලද, ද්වේශ සහගත නාම රූපවලින් මෙන්න මේ පටක ගොඩනැගීමට ආධාර වෙනවා. තව මොහොතකින් ඒ විඤ්ඤාණය ඉවත් වෙලා නැවත සතුටු සිතක් ඇතිවුනොත්, අර ද්වේශ සහගත භාවය අඩංගු වූ නාම රූපවලින් ගොඩනැගුනු පටක නැවත විනාශ වෙලා සතුටු සගහත වූ විඤ්ඤාණයකින් හටගත් සතුටු සහගත වූ නාම රූපවලින් නැවත ඉන්ද්‍රියන් ගොඩනැගෙනවා. මේ ගොඩනැගීමේ ක්‍රියාවලියේදී, ඒ ඒ අවස්ථාවලදී හටගත් විඤ්ඤාණවලට අනුරූපව නාම රූප ගොඩනැගෙනවා. ඒ නාම රූප ඒ ඒ අවස්ථාවේදී ඉන්ද්‍රියන් ගොඩනැගීම සඳහා ප්‍රත්‍ය වෙනවා. ඇතිවන්නා වූ අදහසේ රාගික හෝ ද්වේශික බව අනුව ඉන්ද්‍රිය සංයුතිය වෙනස් වන බව මේ ආකාරයෙන් තේරුම් ගත යුතුයි. හදිසියේ තරහක් ඇති වුනොත් ඇස් රතු වන හැටි, හෘද ස්පන්දනය වැඩි වන හැටි, ඇඟ වෙව්ලන හැටි ඉහත සිද්ධාන්ත අනුව තේරුම් ගන්න පුළුවන්.

මෙතෙක් අපි සාකච්ඡා කරපු විස්තර අනුව විඤ්ඤාණ ප්‍රත්‍යයෙන් නාම රූප වශයෙන් හැදෙන ශුද්ධාෂ්ඨකවලින් එක කොටසක් බාහිර ලෝකයට නිකුත් වෙමින් අපිට අදාල පින් පව්, මතක සටහන් ආදිය සියල්ල විඤ්ඤාණ තලය වෙත නිකුත් වෙන බව අපි තේරුම් ගත්තා. ඒ ශුද්ධාෂ්ඨකවලින් තව කොටසක් තමයි මේ ශරීරයේ එක් එක් ඉන්ද්‍රියන්ගේ බිඳවැටෙන ගොඩනැගෙන පටකවල ක්‍රියාකාරීත්වයට සහභාගී වෙන්නේ. ඒ ඒ අවස්ථාවේ ඇතිවෙච්ච රාගික හෝ ද්වේශික හෝ විඤ්ඤාණයක් මත ගොඩනැගෙන රාගිකභාවය හෝ ද්වේශිකභාවය අනුගත වෙච්ච නාමරූප විසින් අලුතින් ඉන්ද්‍රිය පද්ධතිය බිඳවැටෙන ගොඩනැගෙන ක්‍රියාවලියට අනුගත වෙමින් ආයතන නිර්මාණය වන බව දැන් තේරුම් ගත යුතුයි.

එහෙනම් විඤ්ඤාණ ප්‍රත්‍යයෙන් ගොඩනැගෙන නාම රූප, ක්‍රම දෙකකට සකස් වෙනවා. එකක් බාහිර ලෝකයට නිකුත් වෙමින්, අපිට අදාල විපාක විඳීමට අවශ්‍ය පරිදි ධර්මායතනයේ පිහිටනවා. මේ ශුද්ධාෂ්ඨකවලින් තව කොටසක් තමයි ඉන්ද්‍රියන්ගේ බිඳවැටෙන පටක නැවත ගොඩනැගීමට ඒ ඒ මොහොතේ සහභාගි වෙන්නේ. ඒ අනුව තමයි රාගය ඇති වෙච්ච වෙලාවට ඉන්ද්‍රියෝ රාගායතන බවට පත්වෙන්නේ, ද්වේශය ඇතිවෙච්ච වෙලාවට ද්වේශ ආයතන බවට පත්වෙන්නේ. මේ ආකාරයෙන් රාග ආයතන, ද්වේශ ආයතන ගොඩනැගෙන හැටි තේරුම් ගත යුතුයි. ඉන්ද්‍රිය හය මගින් ආයතන හයක් බවට පත්වෙන හැටි දැන් පැහැදිලියි.

මෙසේ අභ්‍යන්තර නාම කියන්නේ වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන ස්කන්ධ හතරයි. ඊට අනුගත වෙලා ක්‍රියා කරන සතර මහා භූත සහ උපාදාය රූපවලින් හැදිච්ච මේ කය අභ්‍යන්තර රූපයි.

බාහිර රූප කියන්නේ හිත කය නෙවෙයි. කර්ම, ඍතු - ආහාර යන හේතුන්ගෙන් හටගත් යම් සංඛත ධර්මයක් වේ නම් ඒවා සතර මහා භූතයන්ගෙන් හටගත් නිර්මාණයන්. මේවා ආකාර, ලිංග, නිමිති ස්වභාවය අනුවත්, උද්දේස, ප්‍රඥප්ති ලෙසත් තබාගත් නාම පද නිසයි හඳුනාගන්නා කතා ව්‍යවහාරයක් ඇති වී තියෙන්නේ. ඒව තමයි බාහිර රූප සම්බන්ධ නාම ධර්ම. ඒ බාහිර රූපත් කර්ම මූලිකව ගොඩනැගුණු ඍතු ආහාර රූපයන්ගේ හේතුඵල ධර්ම නිසා මේ සියලු අභ්‍යන්තර බාහිර නාම රූපවලට මූල හේතුව විඤ්ඤාණයයි. මේ විදිහටයි විඤ්ඤාණ පච්චයා නාම රූපං යන්න සිද්ධ වන්නේ. මීළඟ කලාපයෙන් සළායතන පච්චයා ඵස්සෝ කියන ක්‍රියාවලිය සලකා බලමු.

**නුගේගොඩ වින්සර් රෝහලේ සභාපති**
**වෛද්‍ය ආර්. පී. වීරසිංහ**
MBBS/DFM/MCGP/MPFAM

# ආනාපාන සති භාවනාව තුළින් කාය සංඛාර සංසිඳවීම හා දැහැන් සුවයට පත්වීම

*(පසුගිය කලාපයෙන් - ආනාපාන සති භාවනාව සඳහා අධ්‍යාත්මික පරිසරය සකස් කරගැනීම)*

ආනාපාන සති භාවනාව නිවැරදිව කරගෙන යන ආකාරයත්, එයින් ලැබෙන ප්‍රතිඵල හා ඒ භාවනාව සඳහා අධ්‍යාත්මික පරිසරය සකස් කරගන්නා ආකාරයත් මීට පෙර කලාපවලින් පැහැදිලි කළා. ආනාපාන සති භාවනාව මුල් කරගෙන කාය සංඛාර සංසිඳවා ගන්නා ආකාරය තව දුරටත් පැහැදිලි කරගත යුතුයි. කාය සංඛාර කියන්නෙ කය ක්‍රියාත්මක කරවන චේතනාවක් කියලත් මීට පෙර පෙන්වා දුන්නා. මේ කයට දාහයක්, වෙහෙසක් ඇතිවුනාම ඒ දාහය නිවාගන්න, ඒකට හේතුව හොයල ඒ හේතුව සංසිඳවන්න ඕන. මේ සඳහා කාය පිළිබඳව තවත් විග්‍රහ කරල දැනගන්න ඕන. සත්ත්වයා කියන්නේ කාය හතරක සම්පිණ්ඩණයක්.

ඒකජ කාය, ද්විජ කාය, ත්‍රිජ කාය, චතුජ කාය වශයෙන් කාය හතරක් පිළිබඳව අභිධර්මයේ සඳහන් වෙනවා. ධාතු හතරෙන් හටගත් මස් ලේ කයට අමතරව කර්ම ශක්තියෙන් ජනිත කරවන කයක් තියෙනවා. ඒකජ කය හෙවත් කර්මජ කය කියල මේ කයට කියනවා.

යම් කෙනෙක් මිය යන්න පෙර මූලිකව හිතින්, කයින්, වචනයෙන් යම් කර්මයක් (හොඳ හෝ නරක) කළා නම් කර්මානුරූපව ඒ කර්ම බීජ, කර්ම භවයේ පිහිටනවා. බුද්ධ දේශනාව අනුව කර්මය කුඹුරයි, විඤ්ඤාණය බීජයයි, තෘෂ්ණාව ජලයයි, අවිද්‍යාව බැම්මයි. කර්මය නමැති කුඹුරේ පිහිටි අභිසංඛාර විඤ්ඤාණය නමැති බීජය තෘෂ්ණා දියෙන් තෙත්ව අවිද්‍යා බැම්මෙන් වට වෙලා කර්ම භවයේ පිහිටා මතු පුනර්භවයට අභිසංඛාර (නැවත ජනිත වීමට අදාල සංඛාර) බීජය ලෙස පිහිටනවා. කර්ම ක්ෂය නම් වූ මරණයකින් යමෙක් මිය යනකොට කර්ම, කර්ම නිමිති, ගති නිමිති යන තුනෙන් එකක් නිතර අරමුණු වෙමින් බලවත්ව උපාදාන වූ කර්ම භව සිතක් මුල්කරගෙන නිතර සිත් නැගෙන්න වෙනවා. අවසාන මොහොත වන විට මරණාසන්න චිත්ත වීථිය ලෙස සිත් පෙලක් (චිත්තක්ෂණ 17 ක) පහළ වෙනවා. බලවත් වූ කර්ම, කර්ම නිමිතිවලින් යමක් මතුවෙලා විපාක සිතක් ලෙස අවසානයේ පහළ වෙනවා. මේ කියන්නේ ඉතා කෙටියෙන්.

චිත්ත වීථියේ ජවන් 5 ක් ගත වෙනකොට මුලින් පහළ වූ අතීත භවාංග, භවාංග චලන, භවාංග උපච්ඡේද, පංචද්වාරාවජ්ජන, දර්ශණ අරමුණක් මුල් වුනා නම් චක්ඛු විඤ්ඤාණ, සම්පටිච්චන, සන්තීරණ, වොත්ථපන යන චිත්තක්ෂණ 8 ක් සහ ජවන් චිත්තක්ෂණ 5 ක් වශයෙන් චිත්තක්ෂණ 13 ක් පහළ වෙලා 14 වන චිත්තක්ෂණය පහළ වෙනකොට එහි උප්පාද, ඨිති, භංග යන චිත්ත මාත්‍ර තුන සමග සිත් පහළ වෙන්න අත්‍යවශ්‍ය වූ ඒ මිය යන භවයේ මුල් පටිසන්ධියේදී පහළ වූ වස්තු රූපය නම් පරමානුව ක්‍රියාකළ කර්ම බලය කෙළවර වෙනවා. මෙයට චුතිය සිදුවන චිත්තය හෙවත් චුති චිත්තයයි නම් කෙරෙනවා. මේ හයවන චිත්තක්ෂණයේදී ගොඩනැගුණු විඤ්ඤාණය ආසන්නම කර්මය ලෙස කර්ම භවයේ පිහිටනවා. මතු පැවැත්මේ වටිනාකමක් අවිද්‍යාවෙන් ගොඩනැගී මේ චිත්තක්ෂණය රූප සංචේතනාවේ චිත්තජ රූපයත් සමග විඤ්ඤාණ බීජය මතු පුනර්භවයට ඇදෙමින් අළුත් භවයේ පටිසන්ධි චිත්තය ලෙස කර්ම බලයෙන් පිහිටනවා. මේ තමයි පටි සන්ධි චිත්තය. මේ චිත්තක්ෂණය අළුත් භවයට බීජය වෙලා කාය දශක, භාව දශක, වස්තු දශක කියන ශුද්ධාෂ්ඨක තුනක් සහ එකතුව කාය, භාව, වස්තු යන කර්මජ රූප මාත්‍රා 3 ක් සහ ජීවිත රූප මාත්‍රා 3 ක් පිහිටා රූප කලාප 30 ක රූප මාත්‍රා සමග විපාක හිත කර්මජව එක විට පහළ වෙනවා. මේ තමයි පටිසන්ධිය ඒකජකාය. මේ චිත්තක්ෂණයේ උප්පාද මාත්‍රයයි. ඒ සමගම ඍතු විපර්යාසය නැගෙන්නට වෙනවා. එතකොට ද්විජ කාය කියල හඳුන්වනවා.



මීළඟට පහළවන 16 - 17 තදාලම්භන චිත්තක්ෂණවලදී චිත්තජ කාය පහළ වෙනවා. එවිට ත්‍රිජකායික නම් වෙනවා. මේ තමයි ගන්ධබ්බයා. කබලිංකාරාහාරයක් (මස් ලේ කයක ආරම්භයට පෝෂණයක්) මව් කුසකදී හෝ ලැබී නම් චතුජකාය බලවත් වෙනවා. මේ චතුජ කාය ලබනකොට මස්ලේ කය ආරම්භ වෙනවා. ඒකජ කාය හා ද්විජ කාය ඉතා සුළු මොහොතයි. පටිසන්ධියෙන් පසු චිත්තජ රූප පහළ වෙනකොට මනෝමය කායික ගන්ධබ්බයා පහළ වී හමාරයි. දැන් පෙර තිබූ කය අතහැරලයි තියෙන්නේ. හැබැයි මව් ගැබක අළුත් කයක් වෙත ඔක්බන්ති වෙලා නෑ. මේ අතර කාලය තුළ තණ්හා උපාදානයෙන් ජීවත් වන බව <u>කතුහල ශාලා සූත්‍රයේ</u> (සංːනිː (4) 700 පිටුව) වච්චගොත්ත පරිබ්‍රාජකයාට දේශනා කරල තියෙනවා. මේ කර්ම, චිත්ත, උතුජ රූප නිසා චක්ඛු දශක, සෝත දශක, ඝාන දශක, ජිව්හා දශක යන රූප කලාප 40 (10×4) සමග පටිසන්ධියේදී ලැබූ රූප කලාප 30 ද සහිතව කලාප 70 ක් වෙලා ගන්ධබ්බයා පෝෂණය වෙනවා. **ගන්ධබ්බයින් ගැන කතා කරනකොට දැනගෙන මව් ගැබට ඇතුල් වන, දැනගෙන ගැබේ සිටින, දැනගෙන බිහිවන ගන්ධබ්බ කොටසක් ඉන්නවා. දැනගෙන ඇතුළු වී, දැනගෙන ගැබේ සිට, නොදැන බිහිවන ලෙස තවත් කොටසක් ඉන්නවා. දැනගෙන**

**ඇතුළු වී, නොදන ගැබේ සිට, නොදන බිහිවන ලෙස තවත් කොටසක් ඉන්නවා. නොදන ඇතුළු වී, නොදන ගැබ තුළ සිට, නොදන බිහිවන තවත් කොටසක් ඉන්නවා.** මේ ගන්ධබ්බ හතර කොටසම මව් ගැබට ඇතුළු වෙලා වැඩෙන්න නම් මව් පිය දෙදෙනෙකුගේ එක් වීමක්, මව ඍතු ඇත්තියක් වීමත් යන කාරණා දෙකක් අවශ්‍යයි.

''මාතා පිතරෝච සන්නිපාතා මාතානි උතුනි හොන්ති ගන්ධබ්බෝච පච්චු පට්ඨිතෝ හෝති'' වශයෙන් ගන්ධබ්බයෙක් ගැබකට ඇතුළු වෙලා තමයි මස් ලේ කයක් හටගන්නේ. මේකට චතුජ කායට අයිති කරජ කාය (කරජ කියන්නෙ ඝනීභවනය වෙලා ගොරෝසු වෙච්ච කියන එකයි) කියල කියනව. (ගැබකට ආවට පසු කලලය පටන් ගත් පසුවයි කරජ කාය වන්නේ.) ජීවත් වෙලා ඉන්න සත්වයෙක් තුළ තියෙන්නේ මේ කරජ කාය සහ අනෙකුත් කායයන්ගේ සම්පිණ්ඩනයක්. මව් පිය එකතුවකින් ආරම්භයක් ලබලා, මව් කන බොන ආහාරවල පෝෂණය තුළින් පඨවි, ආපෝ, තේජෝ, වායෝ කියන ධාතු හතර ඇදගෙන ඒවායින් ගොඩනැගෙන කය චාතුර්මහාභූතික කයයි. සතර මහා භූතයන්ගෙන් හටගත් කය කියලත් මේකට කියනවා. සුළඟට අසුවුණු පරඬලක් සුළඟට ඕන විදිහට ගෙනියනවා වගේ, කර්ම ශක්තිය නමැති ප්‍රවාහයට අසුවුණු ගන්ධබ්බයා ගැබකට ඇදිල යනවා. මේ ගන්ධබ්බයාට හොඳ එකක්, නරක එකක් කියල තෝරගන්න බෑ. ලැබුණ එකක් පිළිගන්න ඕන. මේ ගන්ධබ්බයා බාහිරින් යම්කිසි ගන්ධයක් ඇදගත්තොත්, ඒ ශරීරයට කබලිංකාර ආහාර (කය බලි කරන ආහාර) ගත්තා වෙනවා. එතැන් පටන් චතුජ කායිකයි. මේ තමයි සූක්ෂම කායික තත්ත්වයෙන් ඝනීභවනය වන අවස්ථාව. ''කබලිංකාර ආහාරෝ ඉමස්ස කායස්ස ආහාර පච්චේන පච්චයෝ'' කිව්වෙ මේකයි.

සත්ත්වයා ලෝකයට තියෙන දැඩි කැමැත්ත නිසා ලෝකය දැඩිව අල්ලා ගන්න ඝනීභවන කයක් අවශ්‍ය වෙනවා. මේ අනුව ඝනීභවන වස්තු ඇසුරු කිරීමට ඇති කැමැත්ත නිසයි මස් ලේ කයක් ඇතිවීමට අවශ්‍ය මූලික හේතුව ගොඩනැගෙන්නේ. මේ කරජ කායෙන් සූක්ෂම කය ඉවත් කරන්න නිකන්ම බෑ. **කෙනෙකුගේ කර්ම විපාක හෝ පුණ්‍ය ඍද්ධිය බලවත් නම් ඒ ඝනීභවන කයෙන් ඉවත්වෙලා යන්න පුළුවන්. එසේම ධ්‍යාන ලාභී පුද්ගලයෙකුට අභිඥා බලයෙන් මේ මස් ලේ කයෙන් ඉවත් වෙන්න පුළුවන්.** මස් ලේ කයට කබලිංකාර ආහාර අවශ්‍ය වෙනවා වගේ, අධ්‍යාත්මික කයට ආහාර තුනක් සම්බන්ධ වෙනවා. ස්පර්ශ ආහාර, විඥාණ ආහාර, මනෝ සංචේතනා ආහාර ඒ තුනයි. මේ අනුව එක් කයක් විතරක් සංසිඳවල බෑ. අධ්‍යාත්මික කායත්, බාහිර කායත් යන දෙකම දැනගෙන ඒ දෙකම සංසිඳවීමෙන් තමයි කයට ඇතිවන දාහයෙන් නිදහස් වෙලා සැනසීම ලබන්න පුළුවන් වෙන්නේ. ඉහාත්ම සුඛ විහරණය (මේ අත්භවයේදීම ලබන සුඛ විහරණය) සහිතව ධ්‍යාන සුවය ලැබෙන්නේ මේ අවස්ථාවේදීයි. මේ අනුව ආනාපානසති භාවනාව තුළින් සංඛාර සංසිඳවන්න නම් මේ සෑම කයක් තුළම දාහය හටගන්න හේතුව හොයල ඒ හේතුව සංසිඳවන්න ඕන.

මේ පැවැත්ම තුළ රාග, ද්වේශ, මෝහ කියන්නේ ගිනි. මේවාට අනුකූල දෙයක් ඇසුරු කරල යමක් නිපදෙව්වා නම් ඒක ගිනි නිපදවීමක්, දාහය නිපදවීමක්. කෙනෙක් රාගයට අනුකූලව ක්‍රියා කළොත් රාගයට අනුකූල චිත්තජ රූපත්, ද්වේශ සහගතව ක්‍රියා කළොත් ඒ ගති ස්වභාවය අනුව චිත්තජ රූපත් නිපදවෙනවා. ඒවා තමයි මස් ලේ කයක් එක්ක සියුම් කයක් වශයෙන් පිහිටන්නේ. මන වඩන රූප ස්පර්ශ කරල වින්දනයක් ලබන ලෝක සත්ත්වයා එයින් මුලා වෙලා යලි යලිත් ඒවා පසුපස හඹා යන්න සිතිවිලි පහළ කර ගන්නවා. ඇසට ප්‍රිය මනාප දෙයක් ආවොත් ඒක ඇදගන්නවා. අප්‍රිය අමනාප දෙයක් නම් වීසි කරනවා. ප්‍රිය මනාප සුවඳක් නාසයට දැනුණොත් උඩට ඇදගන්නවා. අප්‍රිය ගඳක් නම් 'හ්ම්' කියල විසිකරනවා. මෙසේ පංච ඉන්ද්‍රියන්ගෙන්ම ඇදගන්න කොටසක් තියෙනවා, ඉවතට විසිකරන කොටසක් තියෙනවා. ඇදගැනීම කියන වචනයේ අදහස ඇද ඒවා ගැනීමයි.

ලෝකයේ තියෙන ඇලුම් කරන සියල්ල ඇදගත්තම ඇද වෙන්නයි සිදුවෙන්නේ. එතකොට අවංක බව නැතිවෙනවා. ලෝකෙ හරි වටිනවයි කියල හිතාගෙන රාගයෙන් බැඳිලා මෙච්චර කලක් කරගෙන ආවෙ මේවයි. ප්‍රිය මනාප දේවල්වලට ඇලිල, ඒවායේ හිත තියාගෙන යලිත් ඒ පසුපස හඹා යන්නේ, මෙසේ ඇදගෙන ගොඩගහ ගත්ත ඡන්දරාග සහගත මතක සටහන් තුළිනුයි. ඒ ගොඩගහ ගන්නේ කර්ම ශක්තියක්. මස් ලේ කයට රූපාකාර ඉඩ ප්‍රමාණයක් වෙන්කර ගත්තට, ඒ මානසිකත්වයට එබඳු සීමාවක් වෙන් කරන්න බෑ. ඇදගත්ත ඒවා ගිහින් පිහිටන්නේ ඒ සීමා කරන්න බැරි ඉඩ ප්‍රමාණයේ. නැවත විපාක ඵලයක් ලෙස අවශ්‍ය අවස්ථාවලදී ඇදී එන්නේ ඒවයි. මේ හීන භවය හෙවත් කාම භවයයි.

**ජීවිත පැවැත්ම සඳහා හුස්ම ගැනීම සහ පහ කිරීමේදී අපට නොපෙනෙන දෙයක් සිද්ධ වෙනවා.** කෙනෙක් හුස්ම ගන්නකොට ඔහුගේ මනසේ ගති ලක්ෂණය රාගික නම්, පිටින් පෙනෙන භාහිර රූපය පිළිබඳ ෂඩ් ආරම්මන නිමිති රූප, භෞතික කයට ඇදිල ඇවිත් මනෝමය කිරණ මගින් නොපෙනෙන විශ්වයට විහිදිලා මනෝ කයට ඇදල දෙනවා. **රාගයෙන් නම් යමක් නිෂ්පාදනය කළේ, ඒවා රත්වීමේ ලක්ෂණය සහිත රතු පාට ස්වභාවයෙන් යුක්ත දේවල් වෙනවා. ද්වේශයෙන් නම් යමක් කළේ ඒවා කළු පාට ස්වභාවයෙන් යුක්තයි.** මස් ලේ කය සකස් වෙන්නේ කර්මජ කය සහ මනෝමය කයේ ආකෘතියක් වශයෙන්. මනෝමය කයේ ස්වභාවයට අනුකූලවයි කන බොන ආහාරයෙන් අවශ්‍ය දේ මස් ලේ කයට ඇදල ගන්නේ. **කර්ම විපාක බලයකින් හෝ පුණ්‍ය ඍද්ධි බලයකින් හෝ අභිඥා බලයකින් කෙනෙක් මස් ලේ කය පැත්තකින් තියල මනෝමය කයින් අයින් වුනොත්, ඒ පුද්ගලයාට මේක දකින්න පුළුවන්.** කඩුව කොපුවෙන් ඇදල පැත්තකින් තිබ්බම, කඩුව පැත්තක කොපුව පැත්තක තිබෙන්නේ යම් සේද, එසේම නයා හැව ඇරලා පැත්තකට ගියාම නයා පැත්තක හැව පැත්තක තියෙන්නේ යම් සේද, මස් ලේ කය පැත්තක තිබියදී මනෝමය කය පැත්තකට ගිය විටත් එසේමයි කියා බුදුපියාණන් වහන්සේ දේශනා කරල තියෙනවා. **කෙනෙක් අලෝභ, අද්වේශ, අමෝහ සිතිවිලිවලින් තම මනස තුළ ශුද්ධතාවයක් ඇති කරගෙන හුස්ම ගැනීමේ ක්‍රියාවලිය සිදුකරන කොට මනෝමය කය වෙත සුදු කිරණ ඇදිල එනවා.**

නිවනේ ශාන්තිය එකම අරමුණ කරගෙන රාගක්ෂය, ද්වේශක්ෂය, මෝහක්ෂය සඳහා හිත පිහිටුවා ගත්තම වීත රාගී, වීත දෝෂී, වීත මෝහී ගුණයට නැඹුරුවෙලා චිත්තජ රූප නැගෙන්න පටන් ගන්නවා. දීප්තිමත් ප්‍රභාෂ්වර ස්වභාවයට නැඹුරු වුන මේ චිත්තජ රූප නැගී නැගී කය වටා පිහිටන්න පටන් ගන්නවා. රාග, ද්වේශ, මෝහ ක්‍රියාවන් නිසා අපද්‍රව්‍ය වශයෙන් මෙතෙක් කල් එකතු වුන කොටස අඳුරු පැහැයෙන් යුක්තයි. වීත රාගී, වීත දෝෂී, වීත මෝහී චිත්තජ රූප නිසා හටගත් චිත්ත රූප බලවත් වෙලා ඒ අඳුරු රූප දුවෙන්න පටන් ගන්නවා. එසේ දුවෙනකොට විශාල මහන්සියක් දැනෙන්න පටන් ගන්නවා. අධ්‍යාත්මික කයේ හටගන්නා අඳුරු කිරණ නිසා ඒ ශරීරයේ වා, පිත්, සෙම් කෝප වීමෙන් විවිධාකාර රෝගාබාධයන්, හිරි වැටීම් සහ විවිධ අපහසුතාවයන්

හටගන්නවා. වීත රාගී, වීත දෝෂී, වීත මෝහී චිත්තජ රූපවලින් හටගන්නා සුදු කිරණවලින් ඒ අඳුරු කිරණ දුවීම නිසා ඒ රෝගාබාධයන් සමනය වීමක් සිද්ධ වෙනවා. නිවනට හිත පිහිටුවාගෙන ඉන්න කොට හටගන්නා වූ ඒ සුදු කිරණවලින් මේ ශරීරයේ සෑම තැනකම බැඳිල රැඳිල තියෙන විෂ කිරණ දුවෙන්න පටන් ගන්නවා. අධ්‍යාත්මික කයේ හටගත් අඳුරු කිරණ දුවී යාම නිසා ශරීරයේ බැඳිල තිබුණු අපද්‍රව්‍යයන් ලිහිල් වෙලා ගැලවිලා යනවා.

රෙද්දක් සෝදන ආකාරයෙන් මෙසේ හිත පිරිසිදු කරගන්නා ලෙස බුදුන් වහන්සේ දේශනා කරනවා. රෙද්දක් ජලයට දැම්මම මුලින්ම ගැලවිලා යන්නේ එක්තරා දූවිලි ප්‍රමාණයක් පමණයි. ඊළඟට සබන් වැනි රසායනික ද්‍රව්‍යයක් දාලා පෙන නගින තෙක් ඇතිල්ලීමෙන් කුණු පෙඟෙන්න ගන්නවා. නැවත ඒ රෙද්ද ජලයට දමා පොඟවනකොට ඒ කුණු ජලයට එකතු වෙනවා. තවත් කුණු තියෙනව නම් නැවත ඒ රසායනිකය යොදල ඇතිල්ලීමෙන් පසු ජලයට දාල ගත්තම තවත් කුණු ප්‍රමාණයක් ඉවත් වෙනවා. මෙසේ නැවත නැවතත් මේ ක්‍රියාව සිද්ධ කිරීමෙන් ඒ රෙද්දේ තියෙන සියලුම කුණු ඉවත් කර පිරිසිදු කරගන්න පුළුවන්.

වීත රාගී, වීත දෝෂී අරමුණක් අරගෙන කර්මස්ථානයක් වඩනකොටත් සිදුවෙන්නේ මෙසේ රෙද්දකට රසායනයක් දාලා කුණු පොඟව පොඟවා කුණු ඉවත් කරනවා වගේම දෙයක්. රාග, ද්වේශ, මෝහ සිතිවිලි, ක්‍රියා, වදන් නිසා සිත අභ්‍යන්තරයේ රැඳිල බැඳිල තිබුණු කුණු වීත රාගී, වීත දෝෂී, වීත මෝහී අරමුණුවලින් පෙඟුනට පස්සෙ ඒවා ඉවත් කරල දැමිය යුතුයි. **රාග, ද්වේශ, මෝහ සහගතව සුවයි සුවයි කියල මෙච්චර කලක් ඇදගත්ත දේවල් සුන් කිරීම තමයි භාවනාවේදී සුසුම් හැරීමෙන් කළ යුතු වන්නේ.** භාවනාවේදී වාතය ප්‍රයෝජනයට ගන්නේ මේ අපද්‍රව්‍ය ඉවත් කරන්නයි. භාවනා කිරීමේදී මහන්සියක් දැනෙනකොට හොඳට හුස්මක් අරගෙන පිට කළාම සහනයක් දැනෙන්නේ භෞතික ශරීරයේ රැඳිල තිබුණ දේවල් ගැලවිලා ඉවත් වන නිසයි. ඇතැම් අවස්ථාවල ඇඟ ඇතුල රත්වෙනව වගේ දැනෙන්න පටන් ගන්නවා. පපුවට මහන්සියක් දැනෙනවා වගේ හන්දිපත් අස්සේ කැක්කුමකුත් දැනෙන්න පුළුවන්. මස් ලේ කය ඇතුලේ ඇඹරිලා තිබුණු ස්නායු පද්ධති සකස් වෙනකොට ඒ වගේ වේදනා එන්න පුළුවන්. වීත රාගී, වීත දෝෂී, වීත මෝහී අරමුණුවල සිත යොදවමින් නිවනට හිත පිහිටුවාගෙන ඉන්න කොට විශ්වයට විහිදිලා තිබුණු සුදු කිරණ, හුස්ම ගැනීමේ ක්‍රියාවලියත් සමගම අභ්‍යන්තර මනෝමය කය වෙත ඇදිල එනවා. මනෝමය කයේ අඳුරු කිරණ දුවිල යන්නෙ චිත්ත ප්‍රසාදය නිසා ඇතිවන සුදු කිරණවල ශක්තියෙන්. මෙහිදී ඇතිවන නිරාමිස ප්‍රීතිය නිසා ''ප්‍රීති මනස්ස කායෝ පස්සද්ධති'' යනුවෙන් පෙන්වල තියෙන ආකාරයට ප්‍රීති වූ මනස කය සැහැල්ලු බවට පත් කරනවා. මීළඟට ''පස්සද්ධි කායෝ සුඛන්දේති'' යනුවෙන් සැහැල්ලු වූ කය තුළින් නිරාමිස සුඛයත්, ''සුඛිනෝ සමාධියති'' හෙවත් නිරාමිස ප්‍රීතිය සහ සුඛය තුළින් සමාධියත් ඇති වෙනවා.

ලෝකය තුළ ඇසුරු කරන කිසිම දෙයක් කැමති සේ සිදුවෙන්නෙ නෑ.



ඇසුරු කළොත් දුකින් පෙළෙන්න වෙනව කියල ලෝකය අනිච්ච වශයෙන් දක්ක කෙනෙක් පමණයි සත්‍යාවබෝධය ලබන්නේ.

ආනාපානසති භාවනාව තුළින් ''සතෝව අස්සසති සතෝව පස්සසති'' සිදුවෙලා සමාධියට පත්වෙන්නෙ ඒ ආකාරයෙන්. මෙතෙක් දීර්ඝ කාලයක් රාගයෙන් මත්වෙලා, ද්වේශයෙන් දැවෙමින්, මෝහයෙන් මුලා වෙලා ලෝකය අල්ලගෙන හිතපු, කියපු, කරපු දේවල් ලේසියෙන් අත්හරින්න බෑ. ඒ වෙලාවට ඒවායේ ආදීනව ධර්මානුකූලව හේතුඵල වශයෙන් බලන්න ඕන. දීර්ඝ ලෙස ධර්මය ඇසුරු කරන කොට රාග, ද්වේශ, මෝහ සහිත සිතිවිලි, ක්‍රියා, වදන්වල අසාරත්වය දැකලා ඒවා පහ වෙන්න පටන් ගන්නවා. ඇලීම් ගැටීම් අරමුණු සොයාගෙන ඒවා නිච්චද, සැපද, අත්තද? නැත්නම් අනිච්චද, දුක්ඛද, අනත්තද කියල මෙනෙහි කරලා, තමා විනාශය කරා ඇද දමන, දුකට ඇද දමන පාප ධර්ම පහ කර දැමිය යුතුයි.

''දීඝංවා අස්ස සන්තෝ දීඝං අස්ස සාමීති පජානාති. දීඝං වා පස්ස සන්තෝ දීඝං පස්ස සාමීති පජානාති'' යනුවෙන් පෙන්වල තියෙන්නේ ඇසුරු කරන පහ කරන ක්‍රම දෙකයි. දීර්ඝ ලෙස බැඳිල තිබුණ රාග, ද්වේශ, මෝහ කහට ගැලවිලා මනස ශුද්ධ වෙලා ගියත් ඉතා සුළු කෙලෙස් කහට කොටසක් ඉතිරි වෙන්න පුළුවන්. ඒ සුළු කහට මොනවද කියල දැනගෙන කෙටියෙන් දහම් ඇසුරු කරගෙන ඒවා අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් මෙනෙහි කරල පහ කරල දාන්න ඕන.

''රස්සංවා අස්ස සන්තෝ රස්සං අස්ස සාමීති පජානාති. රස්සංවා පස්ස සන්තෝ රස්සං පස්ස සාමීති පජානාති'' කිව්වේ ඉතිරි වෙලා තියෙන සුළු කහට පහ කරන ආකාරයයි. ඒ ආකාරයෙන් සංඛාර පහ කරන්න නම් සියළුම කාය විග්‍රහ කරල දකින්න ඕන කිව්වෙ ඒකයි. මේ සියලු කාය මුල්කරගෙන ඇලීමෙන්, ගැටීමෙන්, මුලාවෙන් යුක්ත වෙලා සිත, කය, වචනය තුළින් සිදු කරන සෑම සිතිවිල්ලක්ම, ක්‍රියාවක්ම, වචනයක්ම ධර්මානුකූලව අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් දැකල සියලු කායන් හා බැඳිල තිබුණ හරයක් නැති ඡන්ද රාගය පහ කිරීමත්, නිවන් මගට උපනිශ්‍රය වන ප්‍රනීත දහම් ඇසුරු කිරීමත් තුලින් ආනාපානසති භාවනාවෙන් ශික්ෂණය වන ආකාරයත් දක්වල තියෙනවා.

''සබ්බකාය පටිසංවේදී අස්සසිස්සාමීති සික්ඛති - සබ්බකාය පටිසංවේදී පස්සසිස්සාමීති සික්ඛති'' මෙසේ දීර්ඝ වශයෙන් හා කෙටි වශයෙන් මේ කායයන් හා බැඳුණු ඡන්ද රාගය අත්හැර යනකොට, මේ පැවැත්ම තුළ බය ඇති කරන්නා වූ සංඛාර පහ කරල දමන්න පුළුවන් වෙනවා. ''පස්සං භයං කාය සංඛාරං අස්ස සිස්සාමීති සික්ඛති - පස්සං භයං කාය සංඛාරං පස්ස සිස්සාමීති සික්ඛති'' මේ ආකාරයෙන් පැවැත්මට හේතුකාරක වන්නා වූ, භය ඇති කරන්නා වූ සියළු සංඛාර පහකරන කොටයි භාවනාව වැඩෙන්නේ. ආනාපානසති භාවනාව තුළින් සංඛාර පහකරන කොට ආශ්වාස ප්‍රාශ්වාස බැලිය යුතු තවත් ක්‍රම තුනක් පෙන්වල තියෙනවා.

''ඉති අජ්ඣත්තංවා කායේ කායානුපස්සී විහරති බහිද්ධාවා කායේ කායානුපස්සී විහරති අජ්ඣත්ත බහිද්ධාවා කායේ කායානු පස්සී විහරති''

මේ කරුණ අද පෙන්වන්නේ, තමාගේ කය අනුව ආශ්වාස ප්‍රාශ්වාස බලමින් වාසය කරන්න, අන්‍යයන්ගේ කයේත් කය අනුව බලමින් වාසය කරන්න, තමන්ගේත් අන්‍යයන්ගේත් කායවල ආශ්වාස ප්‍රාශ්වාස බලමින් වාසය කරන්න කියලයි. මෙහිදී තමන්ගේ ශරීරයේ නාසය අග, තොල්මත, ආශ්වාස ප්‍රශ්වාස වාතය වැදෙන හැටි බලනවා වගේ අනෙක් අයගේ නාසය අග තොල් මත ආශ්වාස ප්‍රාශ්වාස වාතය බලන්න පුළුවන්ද කියල හොඳින් කල්පනා කරල බලන්න. ආරණ්‍යයක්, ශූන්‍යාගාරයක් වැනි මිනිස් පුළුටක් නැති තැනකට ගිහිල්ලයි මේ භාවනාවට ඉඳගන්නේ. මේ අවස්ථාවේ අනුන්ගේ කය බලන්නේ කොහොමද? තමන්ගේ ආශ්වාස ප්‍රාශ්වාස වාතය වදින මුල, මැද, අග බලනවා වගේ අනික් අයගේ ආශ්වාස ප්‍රාශ්වාස වාතයේ මුල, මැද, අග බලන ක්‍රමයක් තියෙනවද? තමන්ගේත් අනුන්ගේත් කායන්වල ආශ්වාස ප්‍රාශ්වාස බලන්න නාසය අග සහ උඩු තොල් ලං කරන ක්‍රමයක් තියෙනවද?

එහෙනම් අජ්ජත්ත කාය බහිද්ධ කාය කිව්වෙ මොකක්ද? තව කෙනෙක් හා සම්බන්ධ දෙයක් නෙමෙයි. අජ්ජත්ත කාය කිව්වෙ චක්ඛු කාය, සෝත කාය, ඝාන කාය, ජිව්හා කාය, කාය කාය, මනෝ කාය යනුවෙන් ''මම'' කියල ගත්ත අභ්‍යන්තර කාය සහ ''මගේ'' කියල ගෝචර කරගෙන ඇදල ගත්ත රූප කාය, ශබ්ද කාය, ගන්ධ කාය, රස කාය, පොට්ඨබ්බ කාය සහ ධම්ම කාය කියන බාහිර කාය සියල්ලයි.

මේ අභ්‍යන්තර කායන් බාහිර කායන් හා බැඳුනේ රාගය නිසයි. මේ විදිහට සබ්බ කාය පටිසංවේදී වන ආකාරය බලන්න ඕන. තවදුරටත් ඡන්ද රාගයෙන් බැඳෙනවා නම්, තමන් තවමත් ලෝක ආශ්වාසයේ මිසක් දහම් ආශ්වාසයේ නෙවෙයි ඉන්නෙ කියල දැනගන්න ඕන. මේ ආකාරයෙන් සංඛාර පහ වෙලා ශික්ෂණයට පත්වෙලා රාගක්ෂය මාත්‍රයක් වුනා නම් ඒ නිවනයි. ද්වේශක්ෂය මාත්‍රයක් වුනා නම් නිවනයි. ඒ කියන්නෙ රාගක්ෂය මාත්‍රයට, ද්වේශක්ෂය මාත්‍රයට නිවනත් මාත්‍රයක් ලැබුවා කියන එකයි. මාත්‍රයෙන් මාත්‍රය කෙලෙස් ගෙවී පූර්ණ වුනාම නිවනින් පූර්ණයි. මේ තමයි කායානුපස්සනාවට අයත් ආනාපාන සති භාවනාව. රාග ද්වේශ ක්ෂය වුණ තරමට නිවන පූර්ණ වෙනවා.

බුදුපියාණන් වහන්සේ දේශනා කරනවා මේ ආනාපානසති භාවනාව ඥානවන්තයින්ටයි කියල. මෝහ පුද්ගලයින්ට ආනාපානසතියක් නොකියම් කියල දේශනා කරල තියෙද්දිත්, විසුද්ධි මාර්ගය වැනි පොත්වල පෙන්වල තියෙන්නේ, ආනාපාන සතිය මෝහ චරිතයාට සප්පාය (ගැලපීම) වේ කියලයි.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ඇල්. අමරසිංහ**
**(විශ්‍රාමික ලංකා බැංකු ජ්‍යෙෂ්ඨ කළමනාකරු)**
**පිළියන්දල.**

*20 වෙනි පිටුවෙන්...*

## අභයරතනාලංකාරය

ප්‍රශ්න ඉවරයි කියා, දින ගණනකින් අතු නොගා තිබූ මිදුල අමදිමින් ප්‍රකෘති මනසින් කටයුතු ආරම්භ කළා.

දූන් ගතට ප්‍රබෝධය දැනෙනවා. විරුද්ධ පාක්ෂික බලවේග අහලකවත් නෑ. ශරීරය වටකර අඩි එකහමාරක් දෙකක් දුරට තිබූ කාන්දම් වලලු ස්වභාවයක් තිබුණා. ඒවා සිතිවිලි අනුව ක්‍රියා කරනවා. අත කරකවා ඒ කිරණ කැටි කළාම වොලිබෝලයක් තරමේ කාන්දම් බෝලයක් අතට එන්න පටන් ගත්තා. අවශ්‍යනම් ඒක කෙනෙකුගේ ආරක්ෂාවට ශරීරය වටා පිහිටවන්නත් පුළුවන්. කලින් හිටපු බුද්ධ ප්‍රසාද දේවතා පිරිසත් ළඟින්ම ගැවසෙමින් හිටියා. ඒත් සමගම උදව් උපකාර ලබාගන්න ළං වෙන පිරිසකුත් හිටියා. ඒ අය තම තමන්ගේ දේවත්වය සහ බලපුළුවන්කාරකම් ගැනත් කියා පාන්න පටන් ගත්තා. එබඳු කෙනෙක් ඇවිත් තමා දේවතාවෙක් බවත්, අවශ්‍ය නම් බැංකුවේ ඇති මුදල් වුනත් ගෙනත් දෙන්න පුළුවන් බවත්, නමුත් අසාධාරණ වැඩ නොකරන නිසා එසේ නොකරන බවත් කියා සිටියා. දේවතාවන්ගෙන් මම මොනව කරගන්නද? නමුත් මේ කියපු කියමන ගැන පරීක්ෂණයක්ද කළ යුතුයි. මේ නිසා මම ඔහුට මෙහෙම කිව්වා. ''මම රුපියල් පහක් අල්මාරිය උඩ තබනවා. ඒක ගෙනිහින් බුලත්විට වෙළෙන්දෙකුගේ මුදල් වෙත තබා බුලත් විටක් ගෙනත් දූන් පෙන්වන්න. (ඒ කාලයේ බුලත් විටක මිල රුපියල් පහයි). එතකොට වෙළෙන්දාටත් ලාභයක්. ඔබේ හැකියාව ඔප්පුකරන්නත් ඒක වැදගත්. එය දූන්ම කර පෙන්වන්න.'' මම මෙහෙම කියල වටපිට බලනවත් සමග ඔහු අතුරුදන් වුණා. නැවතත් ආවෙ නෑ.

තවත් දිනක් එබඳුම තවත් කෙනෙක් ඇවිත් තමා දේවතාවෙක් බවත්, දුර තියෙන ඕනෑම දෙයක්, සැඟවුණු රහසක් බලා කියන්න දක්ෂ බවත්, තමාට උදව් කරන්න පුළුවන් බවත් පවසා සිටියා. මම ඔහුට ප්‍රසංසා කර මෙහෙම කිව්වා. ''එතරම් ලොකු දෙයක් මට අවශ්‍ය නෑ. දූන් වත්ත පහළ ලිඳ ලඟ කවුරුන් හෝ නාන ශබ්දයක් ඇහෙනවා. ඒ කවුද කියල හරියටම කියන්න. මම දූන්ම එතැනට ගිහින් බලනවා. ඔබේ සත්‍යතාවය එයින්ම තහවුරු කරගන්න පුළුවන්.'' මම ඔහුට දූනුම් දුන්නේ මෙච්චරයි. වටපිට බැලූ ඔහු කොහේ ගියාද කියලවත් හොයාගන්න බැරිවුණා. නැවත උදව් ගැන කතා කරන්න ආවෙත් නෑ.

මාර සටන් නැවතුනත් මේවත් මාර උගුල්. එච්චර විතරක් නෙවෙයි, පංච කාමයන්ගේ නොහොඹිනා දුශ්චරිත අවස්ථා මුණගස්වා දෙමින් හිතවතුන් විදිහට ළං වෙන්නත්, විවිධ ලාභ කීර්ති ප්‍රසංසා, තත්ත්ව තානාන්තරවලට මග පාදමින් ඒවාට අවස්ථාත් සලසා දෙමින් පොළඹවා ගන්නත් නොයෙක් උපක්‍රම යොදන්න උත්සාහ කළා. විවිධ ස්ත්‍රීන් වසඟ කරදීම, නිධන් පෙන්වා ධනයට මත්කරවීම, ලොව රාජ්‍ය බලය අත්පත් කරදී ප්‍රධානීන් කරන ලෙස තානාන්තර මුලාව ඇතිකිරීම... ආදිය මේ දෙවනි මාර පාක්ෂික ක්‍රමවේදය මගින් මීළඟට ක්‍රියා කරන්න උත්සාහ කළා.

**මේ අනුව පළමුවෙන්ම මේ මාර පාක්ෂිකයෝ හිංගි හිංසා (ප්‍රාණඝාත) කරන්න උත්සාහ කරනවා. ඒකෙන් බැරිනම් දෙවනුව අදත්තාදානයන්ගෙන් සම්පත් නැති කරලා මනස විපරීත කරන්න උත්සාහ කරනවා. ඒත් බැරිනම් තුන්වනුව කාම චාරයෙන් මත් කරවන්න උත්සාහ කරනවා. ඒකෙනුත් බැරිනම් හතරවනුව විවිධ මුසාවාදයන්ගෙන් රවටන්න උත්සාහ කරනවා. ඒ ක්‍රමයටත් බැරිවෙනකොට පස්වනුව තත්ත්ව තානාන්තර එවලා, ඒවායින් මත් කරලා වසඟ කරගන්න බලනවා. මේ ක්‍රම පහෙන්ම බැරිනම් මේ පහම එකට එවනවා.** ඉතින් මනා සිහියෙන් ඉඳගෙන මේවට මුහුණ දෙන්න ඕන. ලාභ, කීර්ති, ප්‍රසංසා, තත්ත්ව තානාන්තර කියන මේවා අනිච්ච, දුක්ඛ, අනත්ත බවත්, මේවායේ ගන්න හරයක් නැති බව වැටහෙන නිසාත්, මේවගේ කරුණු ඉදිරිපත් කර මාර පාක්ෂිකයන්ට ජය ගන්න බෑ.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

**සටහන - නීතිඥ චන්දන සිරිවර්ධන**

16 වෙනි පිටුවෙන්...

## රාග, ද්වේශ, මෝහයන්ගෙන් නැගෙන මහා ගින්න දැක නිවා ගනිමු...

වෙන්න ඉඩ නොදී දුරු කරගත්ත නම්, දස අකුසලයෙන්ම දුරු වෙන්න පුළුවන්. එතකොට ''සබ්බ පාපස්ස අකරණං...'' ආදී වශයෙන් කියන සියලු බුදුවරයන් වහන්සේලාගේ අනුශාසනාව ඉටුකළා වෙනවා. දස අකුසලයම එකක් සතර ආකාරය බැගින් හතලිස් ආකාරයක් වෙනවා. සතුන් මැරීම, මැරවීම, මැරීමට අනුබල දීම, මැරීම හොඳයි කියා වර්ණනා කිරීම කියන මේ සතර ආකාරයම ප්‍රාණඝාතයට අදාල අකුසල් වෙනවා. මේ විදියටම සොරකම් කිරීම, කාමයේ වරදවා හැසිරීම කියන කයින් සිදුවන අකුසල් වලින් වැළකීම කායික සංවරයයි. මුසාවාදය, කේලාම් කීම, පරුෂ වචන කීම, හිස් වචන කීම කියන වාචසික අකුසල් එකකට හතර බැගින් දහසයක් තියෙනවා. ඒවායින් වැලකීම වාචසික සංවරයයි. දැඩි ලෝභය, ව්‍යාපාදය, මිච්චා දිට්ඨිය කියන මනසින් කරන අකුසල් එකකට හතර බැගින් දොලහයි. ඒවායින් වැලකීම මානසික සංවරයයි. මෙසේ දස අකුසලයෙන් වෙන් වෙලා සංවර වීම තුළින් වැඩෙන්නේ කුසල සීලයයි. ''කුසල සීලය වඩන්නාට අවිප්‍රතිසාරය (කැළඹෙන්නෙ නෑ, විසිරෙන්නෙ නෑ) වැඩීම ධර්මතාවයක්. අවිප්‍රතිසාරයෙන් ප්‍රමෝදයත් (මෘදු බවට පත්වීම), ප්‍රමෝදයෙන් ප්‍රීතියත්, ප්‍රීතියෙන් පස්සද්ධියත් (සැහැල්ලුව), පස්සද්ධියෙන් සුඛයත්, සුඛයෙන් සමාධියත්, සමාධියෙන් යථාභූත ඥාන දර්ශනයත්, යථාභූත ඥාන දර්ශනයෙන් නිර්වේදයත් (විඳීමෙන් නික්මීම), නිර්වේදයෙන් විරාගයත්, විරාගයෙන් විමුක්ති ඥාන දර්ශනයත් අනුසස් කොට ඇත්තේය. කුසල සීලය ඇතියහුට ධර්මයෝම ධර්මයෝ පවත්වන්නාහ. පුරන්නාහ. එය ධර්මතාවයකි. චේතනාවෙන් කරණී නැත'' යනුවෙන් අං:නි:(6) කාණ්ඩයේ 586 පිටුවේ එන <u>නචේතනා කරණීය සූත්‍රයේ</u> සඳහන් වෙනවා. මේ විදිහට අප කළ යුතු වන්නේ කුසල සීලය සම්පාදනය කර ගැනීමයි. අනෙක් කරුණු ධර්මයෝම ධර්මයෝ පුරවනවා. අපිට අමුතුවෙන් කරන්න දෙයක් නෑ.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ඩබ්. ඒ. තිළිණවතී**
**(විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී)**
**කඩවත**

---

**සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්, හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

---

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net www.nirvanadhamma.com mp3.hiddendhamma.net www.helabodhupiyuma.net

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

ගමන් මාර්ගය:

නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.




සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා පැවැත්වෙන සදහම් වැඩසටහන් මාලාව සජීවීව විකාශනය කෙරෙන අන්තර්ජාල ගුවන් විදුලි සේවාවට සවන්දීම සඳහා www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ ''දම් සභා ගුවන් හඬ''ට පිවිසෙන්න.











# මරණය වනාහි...

මරණය නම් මරුට වූ ණය	ගෙවීමය
හරණය නම් නොදම් හැර දම්	දැරීමය
තරණය නම් සසර සයුරෙන්	පැනීමය
සරණය නම් මුනිඳු දම් ගෙන	නිවීමය

බියකරු බව නොදැන පස් පව්	කෙරුවාම
දිය සෙත සදන සත් ගුණ දම්	නැසුවාම
වයසට යන තුරුම පව් කඳ	දැරුවාම
ණය වෙයි මරුට පිළිසරණක්	නැතුවාම

මුනි බණ ඇතත් මහ භව දුක නැති	කරනා
වැදි බණ දෙසත් සමහරු සසරෙහි	සරනා
ඇස කන වෙතත් පින් පව් වැටහුම්	දරනා
එය දැන නොගත් උන් වෙත උරුමයි	මරණා

බැඳගෙන කාම ලොව වස්තුව ලෙසට	සරු
ඇද නැති ලොවක් පැතුවොත් එය වෙනව	බොරු
විඳගෙන වෙතොත් කම් සැප දිවි තියෙන	තුරු
අද හෝ හෙට එයිද කියනට බැරිය	මරු

ඇසි පිය හෙළන මොහොතක් වත් නොම	දීලා
රිසි ලෙස නොපවතින ලෝ තතු ගෙන	පාලා
කිසි දින නොඉටුවන පැතුමන් සුනු	වීලා
විසි වෙයි මරණයෙන් කය ඉවතට	දාලා

හුස්ම පොදක් ඉහළට ගෙන පහළ	ලන
ගැස්මකටත් ගැලවී යා හැකිය	පණ
පස්ම වෙලා නොපෙනී යන මෙ කය	ගැන
දොස්ම දකිනු මිස නිදොසක් දකිනු	මොන ?

පබැඳුම් - හිතිඳු චන්දන සිරිවර්ධන

# ලෝකයේ ගුප්ත රැකවරණය



වැද සමවතට මෙත් සිත පතුරන උතුමන්
ඇද නැති සිතින් එක් කර නිවනට පැතුමන්
සදමින් වැඩ නොමැති නම් නැත ලොව විසුමන්
විඳිමින් මහ විපත් ගෙන දෙයි කර රිදුමන්

සිය හත් කෝටි ලෝ වැසියන්ගෙන් නැගෙන
බිය කළු කිරණ ලොව වනසට යයි රැගෙන
දීය වැඩ වසන උතුමන් කිසිවක් නොගෙන
ගිය කළු කිරණ මැඩලයි සුදු කිරණ ගෙන

ලොව නිසි මග තනන තෙරුවන් බලවේගේ
සුව සෙත සදන මහ දිව ඔසුවක් වාගේ
දෙවමින් සොමි ගුණය පලවා හැර රාගේ
භව බැමි බිඳියි දුරු කර සසරෙහි දිගේ

පෙරත් ලොවේ පැවතුණි නම් නිසි සාමේ
හොරත් ගුණ වැඩූ උතුමන් ගෙනි පේමේ
හැරත් එබඳු උතුමන් ලෝකයෙ කාමේ
ඉරත් හඳත් මෙන් පවතියි ගුණ නාමේ

---

පබැඳුම්
නිහිඟු චන්දන සිරිවර්ධන

නිහිඟු චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී